මුද්දර නිවේදන අංක<br>முத்திரைச் செய்தித்தாள் இல.<br>**Stamp Bulletin No.** } 503

තැපැල් දෙපාර්තමේන්තුව,
ට්‍රාන්ස්වර්ක්ස් මන්දිරය,
කොළඹ 00100.

## සමරු නිකුත් කිරීම
## ஞாபகார்த்த வெளியீடு
## Commemorative Issue













# 2002

## වෙසක් வெசாக் VESAK

**2002.05.17**

**Philatelic Bureau**
Department of Posts,
M. I. C. H. Building, No. 27, Bristol Street,
Colombo 00100,
SRI LANKA.

මුද්දර කාර්යාංශය
තැපැල් දෙපාර්තමේන්තුව
ජෝ. ඉ. සං. නි, අංක 27, බ්‍රිස්ටල් වීදිය,
කොළඹ 00100.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
சோ. இ. க. நி. கட்டடம், இல. 27,
பிரிஸ்டல் வீதி, கொழும்பு 00100.

2002 වෙසක් උත්සවය වෙනුවෙන් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය මගින් රු. 3.00, රු. 4.50, රු. 16.50, සහ රු. 23.00 වටිනාකම්වලින් යුත් නව තැපැල් මුද්දර හතරක්ද, රු. 47.00 ක වටිනාකමින් සිහිවටන පත්‍රිකාවක්ද, රු. 10.00 වටිනාකමින් සුභපැතුම්පතක් ද, 2002 මැයි මස 17 වැනි දින නිකුත් කෙරේ.

රු. **3.00** - මහාමායා දේවිය දුටු සිහිනය.

දඹදිව වසරකට වරක් ඇසළ කෙළි නම් මහ උළෙලක් විය. එදින රටවැසියන් මෙන්ම සුදොවුන් රජු ද, මහාමායා දේවිය ද මොනවට හැඳ පැළඳ කමින් බොමින් නැටුම් ගැයුම් ඇ කෙළි දෙළෙන් සිහසුන් අරා ඇමති මඩුල්ලෙන් පිරිවැරුනේ සිරි සැපත් විඳී. සත්වෙනි දින ඇසළ පුණු පොහෝ දිනය යි. එදින උදේම නැගී සිටි මහාමායාදේවිය ඉස් සෝදා නා දුගී මගී යාචකාදීන්ට දං පැන් දී පෙහෙවස් සමාදන්ව කල් යැවී ය. එදවස රෑ නිදිගත් ඕ තොමෝ අපූරු සිහිනයක් දුටුවා ය.

සිව්වරම් දෙව්වරු ඇය හොත් යහන පිටින් ම ඔසවා ගෙන ගොස් හිමවත් අරනේ රිදී ගල් තලාවක මහ රුකක් මුල තැබී ය. එතැනට ඔවුන්ගේ මෙහෙසියන් පැමිණ බිසෝතොමෝ අනවතත්ත විලට ගෙන ගොස් නහවා සුවඳ විලවුන් ගල්වා හැඳ පළඳවා නුදුරෙහි වූ රිදී පව්වෙක වූ රන්විමනක යහනක් පනවා සැතප්පෙව්තු ලැබූහ. එහිදී සුදු ඇත් පැටියෙක් හොඬින් සුදු නෙලුම් මලක් ගෙන දේවිය වටා තෙවරක් පැදකුණු කොට ඇයගේ දකුණු ඇලයෙන් කුස තුලට පිවිසුනායේ විය.

පසුදින දේවිය මෙම සිහිනය මහරජුට සැළ කරන ලදුව සිහින පලා ඵල දත් බමුණන් විමසා පිං ඇති දරුවෙකු දේවිය කුස පිළිසිඳ ගෙන ඇති බව දත්හ.

## රු. 4.50 - බෝසත් උපත.

දස මස් සපිරුණු ගැබ්බර මහාමායා තොමෝ මා පියන්ගේ නුවරට යාම සඳහා සුද්දෝවුන් රජතුමා විසින් සකසන ලද මහ පෙරහැරින් නික්මුණේ දෙනුවර අතර වූ ලුම්බිණි නම් සල් උයනට යනු කැමැත්ත දැන්වූහ. මලින් වැසුණු රුක් ලියෙන් දෙව් උයනක් සේ සිත්කලු වූ ලුම්බිණි උයනෙහි මුල පටන් අග තෙක් පිපිණු මලින් සැදුණු සල් රුකක් දැක එහි එළඹුනහ. එහිදී දරු උපතට කල් එළඹි බව දත් ඇමතියන් හා සේවිකාවන් ඇය වට තිර ඇද රැකවලට සේවිකාවන් යෙදවූහ. නොබෝ වේලාවකින් බෝසත් කුමරු මව් කුසින් බිහිවිය. සිව් වරම් දෙවිවරු පළමුව පිංවත් බෝසත් කුමරු රන් හුයෙන් පිළිගත්හ. එදින වෙසක් පුර පසළොස්වක් පොහෝ දිනයක් විය.

## රු. 16.50 - ශිල්ප දැක්වීම.

සුදෝවුන් රජු විසින් සිදුහත් බෝසත් කුමරුන්ට මාලිගයට ගුරුන් ගෙන්වා සකල විධ ශිල්ප ඉගැන්වූ හෙයින් ශාක්‍ය රජුන් සිතුයේ සිදුහත් කුමරු කෙළි දෙළින් වැඩුණු, රූමත් එහෙත් කිසිදු ශිල්පයක් නොදත් අයෙකු ලෙසය. එ බැවින් සිදුහත් කුමරු හට තම දියණිවරු සරණ පාවාදීමට ශාක්‍ය රජුන් මැළි විය. මේ බව දත් සිදුහත් කුමරු සියලු නෑ රජුන් කැඳවා දින නියම කොට ධනු ශිල්පාදී රජකුමරකු විසින් දත යුතු සියලු ශිල්ප නෑ රජුන් ඉදිරියේ දැක්වීය. එයින් පැහැදුණු ශාක්‍ය රජවරු තම දූන් සරසා එවූහ. ඉන් සිදුහත් කුමර තෙම සුප්‍රබුද්ධ රජුගේ දූ වූ යසෝදරා කුමරිය අග මෙහෙසිය කොට පාවා ගත්තේ ය.

## රු. 23.00 - පැවිදිවීම.

ඇසළ පුණු පොහෝ දින කන්ථක අසු නැග ඡන්නයා අසු පිටුපස නංවා බෝසත්තුමා එක් රැයින්ම තිස් යොදුන් මග ගෙවා අනෝමා ගංතෙරට පැමිණියේ ය. ඉක්බිති අසු පිටින්ම ගහින් එතරව සුදු වැලි තලාවෙහි සිට දකුණතින් කඩුව ගෙන වමතින් කෙස්වැටිය අල්ලා සිඳදමා ආජීව අෂ්ටමක ශීලය සමාදන්ව තවුස් පැවිද්දෙන් පැවිදි විය. ඡන්න ආභරණ ද අස්වයා ද ගෙන පෙරලා යාමට



සැරසින. බෝසත්තුමා පෙරලා ගිය නොබෝ වේලාවකින් අස් කෙම විප්‍රයෝග දුකින් එහිම මළේ ය. ඡන්නයා හඬමින් වැළපෙමින් ගහින් එගොඩව කිඹුල්වතට ගොස් සියලු පුවත් රජුට සැල කළේ ය.

## මුද්දර පිළිබඳ විස්තර

| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2002 මැයි මස 17 වැනි දින |
| වටිනාකම් | : | රු. 3.00, රු. 4.50, රු.16.50, රු. 23.00 |
| සැලසුම්කරු | : | එන්. සී. බුලත්සිංහල |
| හැඩය | : | තිරස් |
| ප්‍රමාණය | : | 41 x 30 මි. මී. |
| මුද්‍රණ ක්‍රමය | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 14 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ (පාවිච්චි කළ) | : | හතරකි. |
| කඩදාසි | : | 102 ජීඑස්එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ. |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 10,00,000 x 4 |
| සිහිවටන පත්‍රිකා | : | 25,000- රු. 47.00 බැගින් |
| සිහිවටන පත්‍රිකාවක ප්‍රමාණය | : | 15 x 9 සෙ. මී. |
| සුභපැතුම් පත් | : | 10,000 - රු..10.00 බැගින් |
| සුභපැතුම්පතක ප්‍රමාණය | : | 12 x 7 සෙ.මී |

அஞ்சல் திணைக்களம்,
திறான்ஸ் வேர்க்ஸ் ஹவுஸ்,
கொழும்பு 00100.

வெசாக் விழா ஞாபகார்த்தமாக அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் ரூபா 3.00, ரூபா 4.50, ரூபா 16.50, ரூபா 23.00 இனப் பெறுமதிகளின் நான்கு புதிய அஞ்சல் முத்திரைகளையும், ரூபா 47.00 பெறுமதியான ஒரு சிறு மலர்த்தாளையும், ரூபா 10.00 பெறுமதியான ஒரு வாழ்த்து மடலையும் 2002, மே 17 ஆந் திகதி வெளியிடும்.

**ரூபா 3.00 இராணி மஹாமாயாவின் கனவு**

தம்பதிவவில் (ஆதிகால இந்தியா) ஆண்டு தோறும் "எசல கெலி" எனும் விழா நடைபெறும். இவ்விழாவில் மன்னர், இராணி, அமைச்சர்கள் பொதுமக்களுடன் சேர்ந்து விருந்துண்டு மகிழ்வார்கள். அத்தகையதொரு விருந்து வழங்கும் விழாவின் ஏழாம் நாள், பூரணை தினத்தில், இராணி மஹாமாயா காலைக் கடன்களை முடித்துவிட்டு சமய வழிபாடுகளில் ஈடுபட்டு, "சில்" அனுட்டித்தார். அன்றிரவு, அவர் உறக்கத்திலிருக்கும்போது, நான்கு தேவதூதர்கள் "ஹிமெவத் ஆரன" எனும் இடத்துக்கு தூக்கிச் சென்று, ஒரு பெரிய மரத்தின் கீழ் வெள்ளி மயமான சமதளப் பாறையின் மீது கிடத்துவதாக அவர் கனவு கண்டார். அதன்பின்பு, அனவத்தட்ட என அழைக்கப்படும் நீர் நிலைக்கு கொண்டு செல்லப்பட்டு நீராட்டி, நறுமணம் பூசி, ஆடை அணிவித்து, தங்க விதானத்தின் கீழ், கட்டிலில் படுக்கவைத்தார்கள். தும்பிக்கையால் ஒரு வெள்ளைத் தாமரைப்பூவை தூக்கிக்கொண்டு ஒரு வெள்ளை குட்டியானை அவரை மூன்று முறை சுற்றி வலம் வந்த பின்பு, அவரின் கருப்பையில் புகுந்துகொண்டதாக உணர்ந்தார்.

மறுநாள் காலை அரசனுக்கு இக்கனவு பற்றி அறிவிக்கப்பட்டதும், அவர் சாஸ்திர அறிஞர்களிடம் கனவு பற்றி வினவிய போது இராணி கருவுற்றிருக்கிறாரென எடுத்துரைத்தனர்.



**ரூபா 4.50 பிறப்பு**

இராணி மஹாமாயா கர்ப்பகாலத்தின் பிற்பகுதியில் அவரது பெற்றோர்களைப் பார்ப்பதற்கு பணியாட்களுடன் பிரயாணம் செய்துகொண்டிருக்கையில், லும்பினி எனும் இடத்தில் தங்கினர். அங்கு நன்றாகப் பூத்துள்ள சாரல மரத்தின் கீழ் வைகாசி பூரணை தினத்தில் இராணி இளவரசன் சித்தார்த்தனை பெற்றெடுத்தார்.

**ரூபா 16.50 வில்லாண்மையைக் காட்டுதல்**

அரச மாளிகைக்குள் வைத்து இளவரசன் சித்தார்த்தனுக்கு சகல கலைகளிலும் பயிற்சி அளிக்கப்பட்டது. இதனை அறியாத சாக்கிய மன்னர்கள் சித்தார்த்தனுக்கு வில்கலை தெரியாது ; அவரொரு விளையாட்டுப் பிள்ளை எனக் கருதி தங்களது புத்திரிகளை அவருக்கு விவாகம் செய்து கொடுப்பதற்கு விருப்பமின்றி இருந்தனர். இதனைக் கேள்வியுற்ற இளவரசன் சித்தார்த்தன், தனது உறவினர்கள் எல்லோரையும் அழைத்து, அவர்களது முன்னிலையில் ஓர் அரசன் கற்றிருக்கவேண்டிய சகல வில்கலைகளையும் செய்து காட்டினார். அவரது வில்லாற்றலைக் கண்ணுற்ற சாக்கிய மன்னர்கள் இளவரசி யசோதரையை அவருக்கு திருமணம் செய்து வைக்கத் தீர்மானித்தனர்.

**ரூபா 23.00 ஆச்சாரிய அபிடேகம்**

எசல பூரணை தினத்தில், இளவரசன் சித்தார்த்தன் தனது அரச குதிரையான கந்தக மீது ஏறி, அமைச்சரான சன்னவுடன் மாளிகையை விட்டு வெளியேறினார். முழு நாளும் பிரயாணம் செய்த பின்பு, அனோமா ஆற்றினை அடைந்தனர். ஆற்றைக் கடந்து சென்று அல்லி மலர் போன்ற வெண்ணிறமான நிலப்பகுதியை அடைந்தனர். அங்கு, தனது வாளை வலது கையில் எடுத்து, இடதுகையால் தனது தலைமயிரைப் பிடித்து வெட்டினார். அப்படியாகச் செய்ததன் மூலம் "ஆஜிவேக அஸ்தமாத்த" நிலையை அடைந்து, ஆச்சாரிய அபிடேகத்தைப் பெற்றார். இளவரசன் திரும்பி வருவாரெனக் காத்திருந்த குதிரை "கந்தக" சோகத்தினால் இறந்தது. அமைச்சர் சன்ன உடைகளையும், ஆபரணங்களையும் எடுத்து சென்று, மன்னனிடம் நடந்ததைக் கூறினார்.

## தொழில்நுட்ப விவரங்கள்

| | |
|---|---|
| வெளியிடும் திகதி | : 17 மே 2002 |
| இனப்பெறுமதிகள் | : ரூபா 3.00, ரூபா 4.50, ரூபா 16.50, ரூபா 23.00 |
| வடிவமைப்பாளர் | : என். சி. புளத்சிங்கள |
| வடிவம் | : கிடையானது |
| முத்திரை அளவு | : 41 X 33 மி. மீ. |
| அச்சடித்த முறை | : எதிர்ப்படி கல்லச்சுமுறை |
| தாளமைப்பு | : தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : 14 |
| அச்சாளர்கள் | : அரசாங்க அச்சகத் திணைக்களம், இலங்கை. |
| நிறங்கள் | : 4 நிறங்கள் |
| தாள் | : 102 ஜிஎஸ்எம் பாதுகாப்பான முத்திரைத் தாள் |
| பசை | : பிவிஏ |
| அச்சடிக்கப்பட்ட தொகை | : 1,000,000 X 4 |
| சிறுமலர்த்தாள் | : 25,000 ஒவ்வொன்றும் ரூபா 47.00 |
| வாழ்த்து மடல் | : 10,000 ஒவ்வொன்றும் ரூபா 10.00 |
| வாழ்த்து மடலின் அளவு | : 12 X 7 செ. மீ. |



Department of Posts,
Transworks House,
Colombo 00100.

THE Philatelic Bureau of the Department of Posts will issue four new postage stamps in the denominations of Rs. 3.00, Rs. 4.50, Rs. 16.50, and Rs. 23.00, a Souvenir Sheet valued at Rs. 47.00 and a Greeting Card valued at Rs. 10.00 on 17th May, 2002 to commemorate the Vesak Festival.

### Rs. 3.00 – Queen Mahamaya's Dream

An annual festival known as the "Esala Keli" was held in Dambadiva (Ancient India) where the King, the Queen and the cabinet of Ministers along with the countrymen enjoy themselves in a grand feast. On the seventh day of such an annual feast, which happened to be a full Moon Day, Queen Mahamaya, after having bathed in the morning, and observing "Sil", engaged herself in religious activities. In her sleep that night she dreamt that four deities, carried her away to a place known as "Himawath Arana" and placed her on a silvery rocky plain under a huge tree. Thereafter, taking her to 4 pond known as Anavatatta, she was bathed, annointed with perfume, dressed and placed on a bed under a golden canopy. A white baby elephant with a white lotus on its trunk, circled her three times and she felt it enter her womb.

The following morning the King was informed of the dream. After consulting the interlectuals it was revealed that the Queen had conceived.

### Rs. 4.50 – The Birth

During the latter part of Queen Mahamayas pregnancy, whilst she was on her way to visit her parents, the Royal

entourage stopped at a place known as Lumbini. There, under a Sal tree full of blossoms, she gave birth to Prince Siddhartha. This was on the full moon day of the month of Vesak.

## Rs. 16.50 – Show of Archery

Prince Siddhartha was educated to the highest royal level inside the palace and this made the Sakya Kings believe that Prince Siddhartha was only a playboy, who did not know the art of archery, and they did not want their daughters to be given away in marriage to him. Knowing this, Prince Siddhartha invited all his relations and in front of them showed them all the skills of archery, which was supposed to be known by a king. Satisfied with the talents of the young prince, the Sakyam Kings decided to give away princess Yasodhara in marriage to Prince Siddhartha.

## Rs. 23.00 – Ordination

On the day of the Esala Full Moon, Prince Siddhartha along with his Minister Channa mounted on Kanthaka, the Royal Horse, left the palace. After riding for one whole day reached the river Anoma. Crossing the river they came to a stretch of lilly white sand. There, taking his sword in his right hand and holding his lock of hair in his left hand, cut his hair and entering the "Aajeewaka Ashtamatha" sheela, he came into ordination. The horse "Kanthaka" waiting for the prince to return, died of sorrow and Minister Channa left, taking all the clothes and jewellery and informed the king of the incident.



## Technical Details

| | |
|---|---|
| *Date of Issue* | : 17th May, 2002 |
| *Denominations* | : Rs. 3.00, Rs. 4.50, Rs. 16.50, Rs. 23.00 |
| *Designer* | : N. C. Bulathsinhala |
| *Format* | : Horizontal |
| *Stamp Size* | : 41 x 33 mm |
| *Printing Process* | : Offset Lithography |
| *Sheet Composition* | : 100 Stamps per sheet |
| *Perforations* | : 14 |
| *Printers* | : Department of Government Printing, Sri Lanka. |
| *Colours (Used)* | : 4 Process Colours |
| *Paper* | : 102 gsm. Security stamp paper |
| *Gum* | : PVA |
| *Quantity Printed* | : 1,000,000 x 4 |
| *Souvenir sheets* | : 25,000 - Rs. 47.00 each |
| *Souvenir Sheet Size* | : 15 x 9 cm |
| *Greeting Cards* | : 10,000 - Rs. 10.00 each. |
| *Greeting Card Size* | : 12x 7 cm. |